**ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව**
**இலங்கைப் பரீட்சைத் திணைக்களம்**
**Department of Examinations, Sri Lanka**

| 82 | S | I, II |
|---|---|---|

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, **2015** දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, **2015** டிசெம்பர்
**General Certificate of Education (Ord. Level) Examination, December 2015**

| | | |
|---|---|---|
| **ධීවර හා ආහාර තාක්ෂණය** | **I, II** | *පැය තුනයි* |
| கடற்றொழிலும் உணவுத் தொழினுட்பவியலும் | **I, II** | *மூன்று மணித்தியாலம்* |
| Fisheries and Food Technology | **I, II** | *Three hours* |

## ධීවර හා ආහාර තාක්ෂණය I

**සැලකිය යුතුයි :**

(i) **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

(ii) අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) යන පිළිතුරුවලින් **නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ** පිළිතුර තෝරා ගන්න.

(iii) **ඔබට සැපයෙන පිළිතුරු පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන්, ඔබ තෝරාගත් පිළිතුරෙහි අංකයට සැසඳෙන කවය තුළ (X) ලකුණ යොදන්න.**

(iv) එම පිළිතුරු පත්‍රයේ පිටුපස දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

**1.** ශ්‍රී ලංකාවේ සමස්ත මත්ස්‍ය නිෂ්පාදනයෙන් වැඩිම ප්‍රමාණයක් ලැබෙන්නේ,
(1) කලපුවලිනි. (2) වෙරළාසන්න මුහුදෙනි. (3) ගැඹුරු මුහුදෙනි. (4) ගොඩතර ජලාශවලිනි.

**2.** මෘද්වංශී කාණ්ඩය යටතට ගැනෙන ජලජීවී සම්පත මින් කුමක් ද?
(1) ඉස්සන් (2) බෙල්ලන් (3) කකුළුවන් (4) මුහුදු කුඩැල්ලන්

**3.** මෝර වරල්වලින් සාදන සුවිශේෂී නිෂ්පාදනයක් වන්නේ,
(1) සුප් ය. (2) විසිතුරු භාණ්ඩ ය. (3) ඖෂධ ය. (4) සෝස් ය.

**4.** පහත රූපයේ දැක්වෙන්නේ මත්ස්‍යයකුගේ වරල්වල පිහිටීමයි.




*A, B, C, D* ලෙස සඳහන් වරල්වල නම් නිවැරදි අනුපිළිවෙළින් දැක්වෙන පිළිතුර කුමක් ද?
(1) පෘෂ්ඨීය වරල, ගුද වරල, පෘෂ්ඨීය වරල හා ශ්‍රෝණි වරල
(2) පෘෂ්ඨීය වරල, පෞච්ච වරල, ගුද වරල හා ළය වරල
(3) පෘෂ්ඨීය වරල, පෞච්ච වරල, ශ්‍රෝණි වරල හා ළය වරල
(4) ගුද වරල, පෘෂ්ඨීය වරල, පෞච්ච වරල හා ළය වරල

**5.** ශාක මෙන් ම සත්ත්ව කොටස් ද ආහාරයට ගන්නා සර්වභක්ෂක මත්ස්‍යයෙක් වන්නේ,
(1) ආඳා ය. (2) මෝරා ය. (3) තිලාපියා ය. (4) ලූලා ය.

**6.** පැටව් දමන මත්ස්‍යයෙක් වන්නේ,
(1) ගෝල්ඩ් ෆිෂ් ය. (2) තිලාපියා ය. (3) කාපයා ය. (4) ගප්පියා ය.

**7.** විලෝපිකයන්ගෙන් ආරක්ෂා කර ගැනීම සඳහා තම බිත්තර හා පැටව් මුඛය තුළ තබා ගන්නේ,
(1) තිලාපියා ය. (2) ගුරාමියා ය. (3) ගප්පියා ය. (4) කාපයා ය.

**8.** ශ්‍රී ලංකාවේ ඇති කාලීන ජල ප්‍රභවය මින් කුමක් ද?
(1) පුත්තලම් කලපුව (2) වික්ටෝරියා ජලාශය (3) කැළණි ගංමෝය (4) විල්ලු

[දෙවැනි පිටුව බලන්න.

9. කිවුල් දිය ජලජ පරිසර පද්ධතිවල වැවෙන ආහාර ලෙස ගත හැකි කොටස් සහිත ශාකයක් වන්නේ,
   (1) කොහිල ය. (2) නෙළුම් ය. (3) කිරල ය. (4) කන්කුන් ය.

10. පර්යේෂණවලට අවශ්‍ය 'ඒගාර්' නිෂ්පාදනය සඳහා යොදා ගන්නා මුහුදු ඇල්ගී විශේෂයක් වන්නේ,
   (1) උල්වා ය. (2) සාගසම් ය. (3) කෝලපා ය. (4) ග්ලැසිලේරියා ය.

11. ජලයේ මතුපිට ස්තරයට ආසන්න ව ජීවත් වන මත්ස්‍යයෙක් වන්නේ,
   (1) මඩුවා ය. (2) ආඳා ය. (3) හුරුල්ලා ය. (4) කොස්සා ය.

12. ධීවර කර්මාන්තයේ දී භාවිත කරන සාම්ප්‍රදායික ආම්පන්න **පමණක්** අයත් පිළිතුර කුමක් ද?
   (1) රිටි පන්නය, මා දැල හා කරමල් දැල
   (2) පුඩු පන්නය, අත්යොත් පන්නය හා මරුවැල
   (3) ජා කොටුව, විසි දැල හා අත්යොත් පන්නය
   (4) මස්අතු, පැසි පන්නය හා හැඹිලි දැල

13. බලයා වැනි ටූනා වර්ගයේ මත්ස්‍යයින් වේගයෙන් පිහිනීම සඳහා ශක්තිය ලබා ගන්නේ,
   (1) අංශ රේඛා පද්ධතියෙනි.
   (2) පේශිවල ඇති හිස්ටිඩීන්වලිනි.
   (3) ජලක්ලෝම සූත්‍රිකාවලිනි.
   (4) අස්ථි පද්ධතියෙනි.

14. ශ්‍රී ලංකාවේ වැව් තුළ සිදු කරන මත්ස්‍ය වගාව අයත් වන වගා ක්‍රමය කුමක් ද?
   (1) අධි සූක්ෂ්ම ක්‍රමය (2) සූක්ෂ්ම ක්‍රමය (3) අර්ධ සූක්ෂ්ම ක්‍රමය (4) විස්තෘත ක්‍රමය

15. ශිෂ්‍යයෙක් වැවක *A, B, C* හා *D* යන ස්ථාන හතරෙහි පාරදෘශ්‍යතාව මැනීම සඳහා 'සෙකි' තැටිය භාවිත කරන ලදී. එහිදී සෙකි තැටියේ පිහිටීම් පහත පරිදි විය.




ඒ අනුව වඩාත් ම පැහැදිලි ජලය ඇතැයි කිව හැක්කේ,
   (1) *A* හි ය. (2) *B* හි ය. (3) *C* හි ය. (4) *D* හි ය.

16. බෙල්ලන් වගාව සිදු කරනු ලබන්නේ,
   (1) කොටු තුළ ය.
   (2) එල්ලෙන ලණුවල ය.
   (3) පාවෙන කූඩු තුළ ය.
   (4) සිමෙන්ති ටැංකි තුළ ය.

17. ආහාරමය මත්ස්‍ය වගාවේ දී සාමාන්‍යයෙන් මඩ පොකුණුවලට හඳුන්වා දෙන්නේ,
   (1) මත්ස්‍ය බිත්තර ය. (2) පසු කීටයන් ය. (3) ඇඟිත්තන් ය. (4) ඇඟිල්ලන් ය.

18. මත්ස්‍යයින්ගේ ප්‍රජනනය සම්බන්ධ පොදු ප්‍රකාශ කිහිපයක් පහත දැක්වේ.
   A – බහුල ව බාහිර සංසේචනය සිදු කරයි.
   B – බිත්තර බහුල ලෙස කූඩු තුළ තැන්පත් කරයි.
   C – පිරිමි සතා බිත්තර මත ශුක්‍රාණු තැන්පත් කරයි.
   මෙයින් සත්‍ය ප්‍රකාශ වන්නේ,
   (1) A හා B පමණි.
   (2) A හා C පමණි.
   (3) B හා C පමණි.
   (4) A, B හා C යන සියල්ල ම වේ.

19. මඩ පොකුණක් සෑදීමට උචිත බිමක් තෝරා ගැනීමේ දී පස් වර්ගය ගැන විශේෂ සැලකිල්ලක් දක්වන්නේ,
   (1) පසේ ඇති ඛනිජ ලවණ පොකුණු ජලයේ දියවිය හැකි බැවිනි.
   (2) පසේ ජලය රඳා පවත්වා ගැනීමේ හැකියාව වැඩි වීම අවශ්‍ය බැවිනි.
   (3) පසේ සිටින ක්ෂුද්‍රජීවීන් මත්ස්‍යයින්ගේ වර්ධනයට බලපෑ හැකි බැවිනි.
   (4) පසේ ඇති පෝෂ්‍ය පදාර්ථ පොකුණ සරු කිරීමට වැදගත් වන බැවිනි.

[තුන්වැනි පිටුව බලන්න

**20.** මිරිදිය මසුන් වගා කිරීමට පිළියෙළ කරන ලද පොකුණක ජලයේ තිබිය යුතු ප්‍රශස්ත pH පරාසය වන්නේ,
(1) 2 - 3 ය. (2) 4 - 5 ය. (3) 6 - 8 ය. (4) 10 - 12 ය.

**21.** අලුත් (නරක් නොවූ) මාළුවකුගේ ලක්ෂණ පිළිබඳ ප්‍රකාශ කිහිපයක් පහත දැක්වේ.
A – සමේ ඇලෙනසුලු බව අඩු ය.
B – දීප්තිමත් ඇස්වලින් යුක්ත ය.
C – ඇඟිල්ලෙන් තද කළ විට ඇතිවන තෙරපුම ඉක්මනින් යථා තත්ත්වයට පත්වේ.
ඉහත ප්‍රකාශ අතුරින් නිවැරදි වන්නේ,
(1) A හා B පමණි. (2) A හා C පමණි.
(3) B හා C පමණි. (4) A, B හා C යන සියල්ල ම වේ.

**22.** රූපයේ දැක්වෙන සාම්ප්‍රදායික ධීවර යාත්‍රාව,
(1) වල්ලම ය.
(2) තෙප්පම ය.
(3) කට්ටුමරම ය.
(4) ඔරුව ය.



**23.** මත්ස්‍ය මාංශවල අඩංගු පෝෂක පිළිබඳ ප්‍රකාශ කිහිපයක් පහත දැක්වේ.
A – අසංතෘප්ත මේද අම්ල බහුල ය.
B – සංතෘප්ත මේද අම්ල බහුල ය.
C – කැල්සියම් හා පොස්පරස් වැඩි වශයෙන් අඩංගු වේ.
ඉහත ප්‍රකාශ අතුරින් නිවැරදි වන්නේ,
(1) A හා B පමණි. (2) A හා C පමණි.
(3) B හා C පමණි. (4) A, B හා C යන සියල්ල ම වේ.

**24.** සාගර ජලයේ ස්වභාවය පිළිබඳ ප්‍රකාශ කිහිපයක් පහත දැක්වේ.
A – වඩදිය අවස්ථාවේ දී සාගර ජලය කලපු හා ගංගාවලට ඇදී එයි.
B – සාගර ජලය ගංගාවලට ඇදී එන්නේ මිරිදිය ස්තරයේ මතුපිටිනි.
C – සාගර ජලය ගංගාවලට ඇදී එන්නේ මිරිදිය ස්තරයට යටිනි.
ඉහත ප්‍රකාශවලින් සත්‍ය වන්නේ,
(1) A හා B පමණි. (2) A හා C පමණි.
(3) B හා C පමණි. (4) A, B හා C යන සියල්ල ම වේ.

**25.** ක්‍රියාකාරීත්වය අනුව සක්‍රිය ධීවර ආම්පන්නය මින් කුමක් ද?
(1) මා දැල (2) කට්ටු දැල
(3) මරුවැල (4) පතුලේ එළන කරමල් දැල

**26.** ජලය මතුපිට ස්තරයේ, මැද ස්තරයේ සහ පතුලේ මත්ස්‍යයින් ඇල්ලිය හැකි පන්න පිළිවෙළින් දැක්වෙන පිළිතුර කුමක් ද?
(1) පුඩු පන්නය, මරුවැල, ට්‍රෝල් දැල (2) ඔසවන දැල, විසි දැල, මා දැල
(3) කරමල් දැල, පුඩු පන්නය, මරුවැල (4) ඔසවන දැල, මරුවැල, හැඹිලි දැල

**27.** ගැඹුරු හා තිරස් දිග අවශ්‍ය ලෙස වැඩි කරමින් මසුන් නෙළීම කළ හැකි පන්න යුගලය වන්නේ,
(1) කරමල් දැල හා ඔසවන දැල වේ. (2) වටකරන දැල හා ට්‍රෝල් දැල වේ.
(3) ට්‍රෝල් දැල හා ඔසවන දැල වේ. (4) කරමල් දැල හා විසිදැල වේ.

**28.** ධීවර කර්මාන්තය සඳහා එක්දින යාත්‍රාවකින් මුහුදට යන යාන්ත්‍රික බෝට්ටුවක අනිවාර්යයෙන් ගෙන යා යුත්තේ,
(1) අයිස්, ආහාර, මාලිමාව හා ඇම ය. (2) ඉන්ධන, අයිස්, ආහාර හා GPS ය.
(3) ඉන්ධන, ආහාර, ජලය හා දැල් පන්න ය. (4) ආහාර, අයිස්, ජලය හා ඇම ය.

**29.** යාන්ත්‍රීකරණය කළ යාත්‍රා භාවිත කර මසුන් ඇල්ලීමට අවසර **නොමැති** ප්‍රදේශයක් වන්නේ,
(1) මන්නාරම් බොක්ක ය. (2) පුත්තලම් කලපුව ය.
(3) පෝක් සමුද්‍ර සන්ධිය ය. (4) සේනානායක සමුද්‍රය ය.

[හතරවැනි පිටුව බලන්න

**30.** දැලක් එලා ඇති ඉසව්ව සොයා ගැනීමට ප්‍රයෝජනවත් වන්නේ,
(1) බෝයාව ය. (2) ඉපිලි ය. (3) බරු ය. (4) මන්ද ය.

**31.** මත්ස්‍ය ගහන සනත්වයට මෙන් ම ජලජ පරිසරයට ද ඉතාමත් අඩුවෙන් හානි සිදු වන පන්නය කුමක් ද?
(1) මා දැල (2) ජා කොටුව (3) විසි දැල (4) යොත් පන්නය

**32.** පිටත එන්ජින් සවි කළ ඔරු, තෙප්පම්, වල්ලම් හා අනෙකුත් පාරම්පරික යාත්‍රා සාමාන්‍යයෙන් ධීවර කටයුතුවල නිරත වන්නේ වෙරළේ සිට කොපමණ මුහුදු සීමාවක් ඇතුළත දී ද?
(1) නාවික සැතපුම් 3 (2) නාවික සැතපුම් 12 (3) නාවික සැතපුම් 22 (4) නාවික සැතපුම් 200

**33.** මිරිදිය ජලාශවල භාවිත කිරීම තහනම් කර ඇති ධීවර ආම්පන්නයක් වන්නේ,
(1) මා දැල් ය. (2) කරමල් දැල් ය. (3) විසි දැල් ය. (4) අතංගුව ය.

**34.** විෂ සහිත බැවින් ආහාරයට ගත **නොහැකි** මත්ස්‍යයකු වන්නේ,
(1) කාවයියා ය. (2) සාවාලයා ය. (3) ජේත්තයා ය. (4) චෙක්කයා ය.

**35.** මාළු නරක් නොවී දින 2-3 ක් තබා ගැනීම සඳහා යෙදිය යුතු අවම අයිස් ප්‍රමාණය වන්නේ මාළුවල බර මෙන්
(1) හතරෙන් එකක් බර අයිස් ප්‍රමාණයකි. (2) අඩක් බර අයිස් ප්‍රමාණයකි.
(3) සමාන බර අයිස් ප්‍රමාණයකි. (4) දෙගුණයක් බර අයිස් ප්‍රමාණයකි.

**36.** මත්ස්‍යයකු මැරුණු පසු ස්වයං ජීරණය සිදු වන්නේ,
(1) බැක්ටීරියා මගිනි. (2) දිලීර මගිනි. (3) වෛරස් මගිනි. (4) එන්සයිම මගිනි.

**37.** මත්ස්‍ය තෙල්වල වැඩියෙන් ම අඩංගු විටමින් දෙවර්ගයක් වන්නේ,
(1) විටමින් A හා විටමින් B ය. (2) විටමින් A හා විටමින් C ය.
(3) විටමින් A හා විටමින් D ය. (4) විටමින් B හා විටමින් C ය.

**38.** ධීවරයින්ට ණය සහ ආධාර ලබා දී ඔවුන්ගේ ආර්ථික හා සමාජීය තත්ත්වය උසස් කිරීමට දායකත්වය ලබා දෙන ආයතනය කුමක් ද?
(1) ධීවර සමූපකාර සමිතිය
(2) ලංකා ධීවර සංස්ථාව
(3) ජාතික ජලජ සම්පත් පර්යේෂණ හා සංවර්ධන නියෝජිතායතනය
(4) වෙරළ සංරක්ෂණ දෙපාර්තමේන්තුව

**39.** මිරිදිය ජලජීවී වගා සංවර්ධනය සඳහා ඍජුව ම කටයුතු කරන ආයතනය කුමක් ද?
(1) ජාතික ජලජ සම්පත් පර්යේෂණ හා සංවර්ධන නියෝජිතායතනය
(2) ජාතික ධීවර හා නාවික ඉංජිනේරු ආයතනය
(3) ලංකා ධීවර වරාය නීතිගත සංස්ථාව
(4) ජාතික ජලජීවී වගා සංවර්ධන අධිකාරිය

**40.** මෑතක දී නිරිතදිග මෝසම් සුළං ආරම්භයත් සමග ශ්‍රී ලංකාවේ දකුණු හා බටහිර වෙරළ ප්‍රදේශවල වාර්තා වූ විෂ සහිත ජලජ ජීවියා කවරෙක් ද?
(1) ජෙලි ෆිෂ් (2) මුහුදු කුඩැල්ලා (3) මුහුදු ඉකිරියා (4) ගිනිමහ

**

[පස්වැනි පිටුව බලන්න

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

82 S I, II

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2015 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2015 டிசெம்பர்
General Certificate of Education (Ord. Level) Examination, December 2015

ධීවර හා ආහාර තාක්ෂණය I, II
கடற்றொழிலும் உணவுத் தொழினுட்பவியலும் I, II
Fisheries and Food Technology I, II

## ධීවර හා ආහාර තාක්ෂණය II

※ **පළමුවන** ප්‍රශ්නය හා තවත් ප්‍රශ්න **හතරක්** ඇතුළුව ප්‍රශ්න **පහකට පමණක්** පිළිතුරු සපයන්න.

1. පහත *A* හා *B* රූපවලින් දක්වා ඇත්තේ මත්ස්‍යයින් සිටින පොකුණු දෙකකි.




(i) *B* පොකුණෙහි, *A* පොකුණට වඩා වැඩි මසුන් ප්‍රමාණයක් සිටීමට හේතු විය හැකි කරුණු **දෙකක්** සඳහන් කරන්න.

(ii) *A* හි මත්ස්‍ය ගහනය අඩු වීමට හේතු විය හැකි කරුණු **දෙකක්** දක්වන්න.

(iii) *A* පොකුණෙහි ඇති ජලයේ මතුපිට පැතිරී වැඩෙන ජලජ ශාක **දෙකක්** නම් කරන්න.

(iv) *A* පොකුණට තවත් මසුන් හඳුන්වා දීමට අවශ්‍ය වුවහොත් ඒ සඳහා ගත යුතු ක්‍රියාමාර්ග **දෙකක්** සඳහන් කරන්න.

(v) පොකුණක තැන්පත් කළ යුතු මත්ස්‍ය පැටව් සංඛ්‍යාව තීරණය කිරීමේ දී සලකා බලන කරුණු **දෙකක්** සඳහන් කරන්න.

(vi) මෙම පොකුණුවල නියමිත ප්‍රමාණයට වඩා වැඩියෙන් මසුන් තැන්පත් කළහොත් ඇති විය හැකි **අයහපත්** ප්‍රතිඵල **දෙකක්** සඳහන් කරන්න.

(vii) පොකුණුවල සිටින මසුන්ගේ රෝග නිවාරණය සඳහා අනුගමනය කළ යුතු ක්‍රියාමාර්ග **දෙකක්** සඳහන් කරන්න.

(viii) මෙම පොකුණුවල සිටින මසුන්ට හානි සිදු කරන විලෝපිකයින් **දෙදෙනෙකු** නම් කරන්න.

(ix) අපනයනය කිරීම තහනම් කර හෝ සීමා කර ඇති ඒකදේශීය (endemic) මත්ස්‍යයන් **දෙදෙනෙකු** නම් කරන්න.

(x) ජලජීව වගාවේ දී මත්ස්‍යයින්ට බහුල ව වැළඳෙන රෝග **දෙකක්** නම් කරන්න.

[ හයවැනි පිටුව බලන්න.

**2.** පහත රූපයේ දක්වා ඇත්තේ ශ්‍රී ලංකාවේ ගැඹුරු මුහුදු ධීවර කර්මාන්තයේ දී බහුල ව භාවිත කරන පන්න වර්ගයකි.



(i) (a) ඉහත දක්වා ඇති ධීවර පන්නය නම් කරන්න.
(b) මෙය භාවිතයෙන් අල්ලා ගන්නා මසුන් වර්ග **දෙකක්** සඳහන් කරන්න.
(ii) (a) මෙම පන්නයට හසුවන මසුන්ගේ භෝජන විලාශය කුමක් ද?
(b) 'මෙය පරිසර හිතකාමී පන්නයකි.' මෙම කියමන සනාථ කිරීමට කරුණු **දෙකක්** ලියන්න.
(iii) (a) මෙම පන්නය යොදා ගැනීම සඳහා භාවිත කරන යාත්‍රා වර්ගයක් නම් කරන්න.
(b) මෙයින් අල්ලා ගන්නා මසුන් ඉහළ ගුණත්මයෙන් යුක්ත වීමට හේතු **දෙකක්** විස්තර කරන්න.
(c) මෙම පන්නය වෙනුවට මසුන් අල්ලා ගැනීම සඳහා භාවිත කළ හැකි වෙනත් පන්නයක් නම් කරන්න.

**3.** ශ්‍රී ලංකාවේ ඇති ජල දේහ අතුරින් ගංමෝය ඉහළ සශ්‍රීකත්වයෙන් යුක්ත ජලජ පරිසරයකි.
(i) (a) ගංමෝයක් යනු කුමක් ද?
(b) එම ප්‍රදේශයේ ඉහළ සශ්‍රීකත්වයක් පැවතීමට හේතු වන කරුණු **දෙකක්** සඳහන් කරන්න.
(ii) (a) ගංමෝය ආශ්‍රිත ව හමු වන සුවිශේෂී වෙරළාසන්න පරිසර පද්ධති **දෙකක්** නම් කරන්න.
(b) එම පරිසර පද්ධති, වෙරළාසන්න ප්‍රදේශයේ නිෂ්පාදකතාව වැඩි කිරීමට දායක වන්නේ කෙසේ දැයි පැහැදිලි කරන්න.
(iii) (a) ගංමෝය පරිසර තත්ත්ව දෛනිකව මෙන් ම කාලීන ව ද වෙනස් වේ. මෙලෙස විචලනය වන පාරිසරික තත්ත්ව **දෙකක්** නම් කරන්න.
(b) මෙසේ පරිසර තත්ත්ව විචලනය වීමට හේතු පැහැදිලි කරන්න.

**4.** ගැඹුරු මුහුදේ මත්ස්‍ය කර්මාන්තයේ නියැළෙන බහුදින යාත්‍රා එක් ගමන් වාරයක දී සාමාන්‍යයෙන් දින 15 ක් හෝ ඊට වැඩි දින ගණනක් මුහුදේ ගත කරයි. මෙහි දී අල්ලා ගන්නා මසුන් ගොඩබාන තෙක් අයිස් දමා තබා ගනී. පහත වගුවේ දැක්වෙන්නේ අයිස් දැමීමෙන් පසු මසුන් හොඳ තත්ත්වයෙන් තබා ගත හැකි දින ගණනයි.

| අවස්ථාව | A | B | C | D | E |
|---|---|---|---|---|---|
| අල්ලා ගැනීමෙන් පසු අයිස් දැමීම සිදු කිරීමට ගත වන කාලය (පැය) | 00 | 03 | 06 | 10 | 12 |
| හොඳ තත්ත්වයෙන් මසුන් ගබඩා කර තබා ගත හැකි දින ගණන | 14 | 11 | 08 | 02 | 00 |

(i) (a) ඉහත වගුවට අනුව අයිස්වල මසුන් ගබඩා කිරීම වඩාත් ම සුදුසු වන්නේ කුමන අවස්ථාවේ දී ද?
(b) ඔබේ පිළිතුරට හේතුවක් සඳහන් කරන්න.
(ii) (a) ධීවර යාත්‍රාවක ඇති මත්ස්‍ය අස්වනු ගබඩාවක තිබිය යුතු ලක්ෂණ **දෙකක්** සඳහන් කරන්න.
(b) ධීවර යාත්‍රාවක, ගබඩාව තුළ අයිස් යොදා මසුන් නිවැරදි ව අසුරණ අකාරය දළ රූප සටහන් මගින් දක්වන්න.
(iii) (a) වෙළෙඳපොළේ ඇති මසුන් උසස් ගුණාත්මක බවින් යුක්ත ව පවතී ද යන්න තීරණය කිරීමට පාදක කරගත හැකි ලක්ෂණ **දෙකක්** දක්වන්න.
(b) අඩු ගුණාත්මක බවින් යුතු මසුන් පරිභෝජනයෙන් ඇති විය හැකි **අහිතකර** තත්ත්ව **දෙකක්** පැහැදිලි කරන්න.

[හත්වැනි පිටුව බලන්න.

**5.** ශ්‍රී ලංකාවේ විසිතුරු මත්ස්‍ය වගාව, සුළු පරිමාණ ව මෙන් ම මහා පරිමාණව ද සිදු කරනු ලබයි.

(i) (a) විසිතුරු මත්ස්‍ය වගාවෙන් ලැබෙන ප්‍රතිලාභ **දෙකක්** සඳහන් කරන්න.

(b) මිරිදිය හා කරදිය පරිසරවල වගා කිරීමට යෝග්‍ය විසිතුරු මත්ස්‍ය විශේෂය බැගින් නම් කරන්න.

(ii) විසිතුරු මත්ස්‍ය ටැංකියකට මසුන් හඳුන්වා දෙන අයුරු විස්තර කරන්න.

(iii) (a) විසිතුරු මත්ස්‍යයන් ඇති කිරීමේ දී ඇති වන ගැටලු **දෙකක්** සඳහන් කරන්න.

(b) එම ගැටලු නිරාකරණය කිරීමට ගත හැකි ක්‍රියාමාර්ග **දෙකක්** විස්තර කරන්න.

**6.** මත්ස්‍ය අස්වනු ඉතා ඉක්මනින් නරක් වන බැවින් ඒවා නිසි ලෙස පරිහරණය කිරීම වැදගත් වේ.

(i) (a) පාරම්පරික මත්ස්‍ය පරිරක්ෂණ ක්‍රම **දෙකක්** නම් කරන්න.

(b) එම ක්‍රම තුළින් මසුන් නරක් වීම අවම කර ගැනීමට හැකි වන්නේ කෙසේ ද?

(ii) (a) නූතන මත්ස්‍ය පරිරක්ෂණ ක්‍රම **දෙකක්** නම් කරන්න.

(b) එම එක් ක්‍රමයක් මගින් මසුන් පරිරක්ෂණය කරන ආකාරය පැහැදිලි කරන්න.

(iii) (a) යාත්‍රාවකින් මසුන් ගොඩ බෑමේ දී සිදු කරන **වැරදි** පරිහරණ විධි **දෙකක්** සඳහන් කරන්න.

(b) මසුන් ගොඩ බෑ පසු ප්‍රවාහනයේ දී සිදු විය හැකි අස්වනු හානි අවම කිරීමට ගත යුතු ක්‍රියාමාර්ග **දෙකක්** පැහැදිලි කරන්න.

**7.** ධීවර හා ජලජ සම්පත් පනත මගින් අහිතකර ධීවර පන්න යොදා මසුන් මැරීම තහනම් කර ඇත.

(i) (a) ධීවර හා ජලජ සම්පත් පනත මගින් කරදියේ යොදා ගැනීමට තහනම් කර ඇති පන්න ක්‍රම **දෙකක්** නම් කරන්න.

(b) අහිතකර පන්න මගින් ජලජ සම්පතට සිදු වන හානි **දෙකක්** නම් කර, ඒවා කෙටියෙන් විස්තර කරන්න.

(ii) මසුන් නෙළීමට කරමල් දැල් යොදා ගැනීමේ දී ජලජීව සම්පත්වලට සිදු වන අහිතකර බලපෑම් **දෙකක්** පැහැදිලි කරන්න.

(iii) "ගොඩතර ජලාශවල යොදා ගන්නා කරමල් දැල්වල ඇසේ ප්‍රමාණය 87 mm ට වඩා වැඩි විය යුතු ය." මෙම නීතිය ක්‍රියාත්මක කිරීම තුළින් ලැබෙන ප්‍රතිලාභ **දෙකක්** පැහැදිලි කරන්න.

***